(vi) තිර රාමු මුද්‍රණය හඳුන්වන්න.

- රෙදිපිලි අලංකාර කිරීමේ ක්‍රමයකි.
- මේ සඳහා විශේෂ රාමුවක් සකස්කරගත යුතු වේ. මෙම රාමුවට සවිකරන තීරයක් මත මෝස්තරය සටහන් කරයි.
- එම මෝස්තරය ඉතිරි කර පසුබිම මත වර්ණ ආලේප කර එය වියලීමෙන් පසු ඒ මත ලැකර් ගෑමෙන් පසුබිම ශක්තිමත් කරගත හැකි වේ.
- මුද්‍රණයේ දී රාමුවේ කෙලවරකට ඇතුළු කරන සායම්, තෙරපීම මගින් අනෙක් කෙලවර දක්වා ගෙන යයි. මෙහිදි මෝස්තරය තුලින් සායම් ගමන් කර රෙද්ද මත මෝස්තරය සටහන් වේ.
- මේ සඳහා යාන්ත්‍රික ක්‍රම ද භාවිතා කළ හැකිය.

**ලකුණු 02 යි**

(vii) මානව පාලිත සංචාරක ආකර්ෂණය සඳහා උදාහරණ **දෙකක්** දක්වන්න.

- **ජාතික වනෝද්‍යාන**

  **උදා :** යාල (රුහුණ හා නැගෙනහිර) විල්පත්තු, ගල් ඔය, උඩවලවේ, මාදුරු ඔය, වස්ගමුව, සෝමාවතිය, මින්නේරිය, කවුඩුල්ල, හොරගොල්ල, ලාහුගල, පරවි දූපත, ඩෙල්ෆ් දූපත, අඟමැඩිල්ල

- **අභය භූමි**

  **උදා :** විල්පත්තු (උතුර), වීරවිල තිස්ස කලාපය, කෑගල්ල කුරුළු උයන, මාඉඹුල් කන්ද (නිට්ටඹුව), තබ්බෝව, සිගිරිය වනය, කුමන, කෝකිලායි, හොර්ටන් තැන්න, මින්නේරිය, බෙල්ලන්විල අත්තිඩිය, මුතුරාජවෙල, පදවිය වැව, රූමස්සගල.

- **සංරක්ෂිත ප්‍රදේශ**

  **උදා :** සිංහරාජ, කන්එළිය, මාදුගග, නාකියාදෙණිය, නකල්ස් (තෙත් බිම්), පිදියගල, ආනවිල්ලුව, මුද්දල, නාමල් උයන (රෝස තිරුවාන), හග්ගල, උඩවත්ත කැලේ (මහනුවර), බඩගමුව (කුරුණෑගල), කිතුල්ගල.

**උදාහරණ 02 කට ලකුණු 02 යි**

(viii) 'ආහාර පා සළකුණු' (Food foot print) හඳුන්වන්න.

පුද්ගලයෙකුගේ ආහාර පරිභෝජන අවශ්‍යතා ඉටුවීම සඳහා ආහාර නිෂ්පාදන ක්‍රියාවලියේ දී ආහාර පිසීම හා ආහාර පිළියෙල කිරීමේ දී පිටවන හරිතාගාර වායු ප්‍රමාණය වේ.

**ලකුණු** 02 **යි**

(ix) සන්නිවේදනයට ඇති බාධා **දෙකක්** සඳහන් කරන්න.

- පුද්ගලයෙකුගේ අධ්‍යාපන මට්ටම / දැනුම / අත්දැකීම්
- භාෂා අවබෝධය / හැකියාව
- පුද්ගල සබඳතා දුර්වල වීම / අකමැත්ත
- තොරතුරු ග්‍රහණය කිරීමට ඇති අපහසුතා
- අවධානය යොමු නොකිරීම
- පුද්ගල බුද්ධි මට්ටම් අනුව භාෂා හැකියාව වෙනස් වේ. පුද්ගලයාගේ සමාජ පරිසරය අනුව භාෂා හැකියාවන් විවිධ වේ.

**කරුණු** 02 **කට ලකුණු** 02

(x) දරුවකුගේ මානසික නීරෝගීතාව සඳහා බලපාන සාධක **දෙකක්** දක්වන්න.

- බිඳ වැටුනු අධ්‍යාපනික පරිසරය
- අහිතකර නිවෙස් පරිසරය / පවුල් පරිසරය
- සමාජයීය ගැටළු
- අවතැන් වීම
- ස්වභාවික විපත්
- රෝගී තත්ත්වයන් / මන්ද පෝෂණය
- පාරිසරික හා භෞතික ගැටළු
- ළමා අපචාර
- වෙන් වීම් / වියෝවීම
- යුධමය තත්ත්වයන්

**කරුණු** 02 **ට ලකුණු** 02 **යි**

**මුළු ලකුණු** 20 **යි**

**2.** (i) නිර්මාණකරණයේ මූලික සාධක **තුනක්** නම් කර, ඒවා හඳුන්වන්න. (ලකුණු 03 යි)

- සංකල්පය
- භාවිතය
- සන්දර්භය

- **සංකල්පය**

  නව නිර්මාණයක දී ඉඩමේ පවතින සියළුම භෞතික, සමාජීය හා පරිසර සාධක සලකා බැලීමෙන් පසුව නිර්මාණය පිළිබඳව නිර්මාණ ශිල්පියාගේ මනසේ ඇඳෙන මූලික නිර්මාණාත්මක අදහස වේ.

- **භාවිතය**

  නව නිර්මාණයන් ඉදි කිරීමේ දී එය කුමන කාර්යයක් සඳහා යොදා ගන්නේ ද, එය භාවිතා කරන්නේ කවරෙක්ද යන්න පිළිබඳව ද ඔවුන් තුළ ඇති ආකල්ප සමාජ පරිසරය හා ආර්ථික පරිසරය පිළිබඳව සැලකිලිමත් වීම.

- **සන්දර්භය**

  මෙයට භෞතික පරිසරය, සමාජ පරිසරය, හා ආර්ථික පරිසරය හේතුවේ. භූමියේ පිහිටීම, පස, ශාක ගහණය එහි හැඩය මෙන්ම ප්‍රායෝගික පහසුකම් පිළිබඳ අවධානය යොමු කිරීම වේ.

  තවද සමස්ථ ප්‍රදේශයට අයත් ගොඩනැගිලි ජලය ගලායාම, ශාක ගහණය, කාර්මික ප්‍රදේශ වල නිවාස ස්ථානගත නොකිරීම පිළිබඳව සලකා බැලිය යුතුයි.

- **භෞතික පරිසරය නැවත කොටස් දෙකක් යටතේ පෙන්වාදිය හැකිය.**

  - ආසන්න භෞතික පරිසරය
  - සමස්ථ භෞතික පරිසරය

- **සන්දර්භය**

  මෙයට භෞතික පරිසරය, සමාජ පරිසරය, ආර්ථික පරිසරය හේතු වේ.

  - භෞතික පරිසරය නැවත කොටස් දෙකක් යටතේ විස්තර කළ හැකිය. එනම්
    - ආසන්න භෞතික පරිසරය
    - සමස්ථ භෞතික පරිසරය

<u>**ආසන්න භෞතික පරිසරය යනු**</u> භූමියේ පිහිටීම, පාංශු වර්ගය, ශාක ගහණය, එහි හැඩය මෙන්ම ප්‍රායෝගික පහසුකම් ආසන්න භෞතික පරිසරයට අයත් වේ.

<u>**සමස්ථ භෞතික පරිසරය යනු**</u> නව නිර්මාණය ගොඩනැගෙන භූමිය පිහිටා ඇති සමස්ථ ප්‍රදේශයේ භෞතික පරිසරය පිළිබඳව අධ්‍යයනයකි.

<u>**සමාජ පරිසරය යනු**</u> පවුල් අතර අන්තර් සමාජ සබඳතාවල ස්වභාවය සහ ඔවුන්ගේ මානසික සුවපහසුව පිළිබඳව හඳුනාගැනීම වේ.

<u>**ආර්ථික පරිසරය යනු**</u> ප්‍රශස්ත ජීවන පරිසරය නිර්මාණය කර ගැනීම වෙනුවෙන් වැය වන මුදල් ප්‍රමාණය ආර්ථික තත්ත්වය සමග ගලපා ගැනීම වේ.

(ii) ගොඩනැගිල්ලක් ආලෝකකරණයේ දී සැලකිය යුතු කරුණු **තුනක්** පැහැදිලි කරන්න. (ලකුණු 03 යි)

- දිවා ආලෝකය ලැබෙන පරිදි දොර ජනේල ස්ථානගත කිරීම.
- කෘත්‍රිම ආලෝකය අඩුවෙන් භාවිත කිරීම හා ස්වාභාවික ආලෝකය වැඩිපුර භාවිතය.
- අවකාශයේ භාවිතය අනුව ප්‍රමාණාත්මකව හා ගුණාත්මකව ආලෝකකරණ භාවිතය.
- ජනේල වලට භාවිත කර ඇති වීදුරු වර්ග සහ බිත්තිවලට ආලේප කර ඇති වර්ණ පිළිබඳව සැලකිලිමත් වීම.
- අවශ්‍ය කාර්යය හා ස්ථානය අනුව ආලෝකය යොදා ගැනීම.

(iii) ගෘහ පරිපථයක ඇතුළත් උපාංග **තුනක්** නම් කර ඉන් **දෙකක** කෘත්‍ය පැහැදිලි කරන්න. (ලකුණු 05 යි)

- අධිධාරා පරිපථ බිඳිනය / සේවා විලායකය
- සිඟිති පරිපථ බිඳිනය
- ප්‍රධාන ස්විචය
- ශේෂධාරා පරිපථ බිඳිනය
- විදුලි මීටරය
- විලායකය
- වෙන්කරණය
- විබෙදුම් පෙට්ටිය
- ස්විචය
- කෙවෙනිය

- **අධිධාරා පරිපථ බිඳිනය / සේවා විලායකය**

  අධි ධාරාවක් පැමිණි විට පරිපථය විසන්ධි කෙරේ.

- **සිඟිති පරිපථ බිඳිනය**

  සිඟිති පරිපථ බිඳිනයෙහි සඳහන් ධාරාවට වඩා වැඩි ධාරාවක් ඒ තුලින් ගලා ගිය විට එහි ස්විචය ස්වයංක්‍රියව ක්‍රියාත්මක වී අදාළ පරිපථය පමණක් විසන්ධි වේ.

- **ප්‍රධාන ස්විචය**

සේවා මීටරයේ සිට ගෘහ අභ්‍යන්තර පරිපථයට විදුලිය සපයනුයේ ප්‍රධාන ස්විචය තුළ ඇති සජීවි සහ උදාසින රැහැන් මගිනි. ප්‍රධාන ස්විචය තුළ 30 A විලායකය යොදා ඇත. මෙම ප්‍රධාන ස්විචය පැරණි ගෘහ පරිපථ වල ඇති අතර වර්තමානයේ ඒ වෙනුවට වෙන්කරණය. (Isolator) යොදාගනි.

- **ශේෂධාරා පරිපථ බිඳිනය**

  වෙන්කරණයෙන් පසුව සජීවි රැහැන හා උදාසීන රැහැන ශේෂධාරා පරිපථ බිඳිනය හෙවත් පැන්නුම් ස්විචයට සම්බන්ධ කර ඇති අතර විදුලි උපකරණයක භාහිර ලෝහ ආවරණයට හෝ භූමියට විදුලි කාන්දුවක් සිදුවන විට මෙහි ස්විචය ස්වයංක්‍රියව ක්‍රියාත්මක වී නිවසේ සියළු පරිපථ වලට ලැබෙන විදුලිය විසන්ධි වේ.

- **විදුලි මීටරය**

  පාරිභෝගියා විසින් වැයකරනු ලබන විද්‍යුත් ශක්ති ප්‍රමාණය විදුලි මීටරයෙහි සටහන් වේ.

- **විලායකය**

  නියමිත ධාරාවට වඩා වැඩි ධාරාවක් ගලාගිය විට එහි විලායක කම්බිය උණු වී පරිපථය බිඳේ.

- **වෙන්කරණය**

  වෙන්කරණයට සම්බන්ධ කර ඇති සජීවි රැහැන හා උදාසීන රැහැන නිසා එහි ස්විචය ක්‍රියාත්මක වීමෙන් නිවසේ සියළු පරිපථ වලට ලැබෙන විදුලිය විසන්ධි කිරීම හෝ ලබාදීම කළ හැකිය.

- **විබෙදුම් පෙට්ටිය**

  ගෘහ පරිපථ වල විලායක සියල්ලම එකම පෙට්ටියක සවිකර ඇත. මේ හරහා වැඩි ධාරාවක් ගලාගිය විට එහි විලායක කම්බි විලයනය වී පරිපථයේ ධාරාව ගැලීම නවති.

- **ස්විචය**

  විදුලිය සම්බන්ධ කිරීම හා විසන්ධි කිරීම ස්විච මගින් සිදු වේ.

- **කෙවෙනිය**

  දෙකුරු පේනු තුන්කුරු පේනු මෙයට සම්බන්ධ කර විද්‍යුත් උපකරණ ක්‍රියාත්මක කරනු ලබයි.

(iv) අපජලය උත්පාදනය වන ප්‍රධාන මූලාශ්‍ර නම් කර ඒවායින් ජනනය වන අපද්‍රව්‍ය බැහැර කළ යුතු ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 05 යි)

- වැසිකිලිවලින් පිටවන ජලය

- නෑමට හා රෙදි සේදීමට යොදාගන්නා ජලය
- මුළුතැන්ගෙයි සේදීමට යොදාගත් ජලය

- **වැසිකිලිවලින් පිටවන ජලය**

  වැසිකිලිවලින් පිටවන ජලය කෙලින්ම පූතික ටැංකියට බැහැර කිරීම. පූතික ටැංකියෙන් බැහැර වන ජලය පෙඟවුම් වලකට (Soakage pit) හෝ පෙඟවුම් ක්ෂේත්‍රයකට (Soak field) මුදා හැරීම.

- **නෑමට හා රෙදි සේදීමට යොදාගන්නා ජලය**

  මෙම ජලය පෙඟවුම් වලකට (Soakage pit) හෝ පෙඟවුම් ක්ෂේත්‍රයකට (Soak field) මුදා හැරීම.

- **මුළුතැන්ගෙයි සේදීමට යොදාගන්නා ජලය**

  මුළුතැන්ගෙයි සේදීමට යොදාගත් ජලය පළමුව තෙල් හබකක් (Grease Trap) මගින් යවා පූතික ටැංකියට මුදා හැරීම.

**ලකුණු 03 යි**

**මුළු ලකුණු 16 යි**

**3.** (i) බොජුන් පතක් සකස් කිරීමේ දී සැලකිය යුතු කරුණු **තුනක්** සඳහන් කරන්න. (ලකුණු 03 යි)

- පවුලේ සාමාජිකයන් පසුකරන අවධින් (ජීවන චක්‍රයේ විවිධ අවධි වයස් මට්ටම්) හා රෝගී තත්ත්ව පිළිබඳ සැලකිලිමත් වීම.
- දෛනික පෝෂණ අවශ්‍යතා
- විශේෂ පෝෂණ අවශ්‍යතා ඇති සාමාජිකයන් පිළිබඳව
- විවිධත්වයකින් යුතු වීම. (වර්ණය, සුවඳ, රසය)
- සාමාජිකයින්ගේ රුචිකත්වය
- පවුලේ ආර්ථික තත්ත්වය
- ආහාර පිළියෙල කිරීමේ හා පිසීමේ විවිධ ක්‍රම භාවිත කිරීම
- පෝෂක රැකෙන පරිදි සකස් කිරීම
- ආහාර ද්‍රව්‍ය ලබාගැනීමේ පහසුව
- නැවුම් ගුණාත්මක ආහාර ද්‍රව්‍ය තෝරා ගැනීම
- පලාතේ සුලභ ආහාර ද්‍රව්‍ය තෝරා ගැනීම

**ලකුණු 03 යි**

(ii) අවුරුදු 1-5 තෙක් දරුවකුගේ විශේෂ පෝෂණ අවශ්‍යතා සඳහන් කර, ඒවායේ වැදගත්කම පැහැදිලි කරන්න. (ලකුණු 04 යි)

- ශක්තිය
- ප්‍රෝටීන්
- කැල්සියම්
- යකඩ

- **ශක්තිය**

  සිරුරේ පරිවෘත්තීය ක්‍රියා, සියළුම ජෛව රසායනික ක්‍රියා පවත්වා ගැනීම සඳහා, එදිනෙදා ක්‍රියාකාරීත්වය සඳහා මෙන්ම මෙම අවධියේ පසුවන ළමුන් ඉතා ක්‍රියාශීලි බැවින් ඒ සඳහා අවශ්‍ය ශක්තිය ලබාදීම සඳහා කාබෝහයිඩ්‍රේට්, මේද අඩංගු ආහාර ලබාදීම.

- **ප්‍රෝටීන්**

  සිරුරේ පටක මෙන්ම එන්සයිම නිපදවීම, හෝමෝන, රුධිරය නිපදවීම සඳහා මෙම පෝෂකයේ අවශ්‍යතාවය මේ අවධියේ දී වැදගත් වේ.

- **කැල්සියම්**

  සිරුරේ අස්ථි හා දත් වර්ධනය සඳහා එනම් අස්ථි දිගින් වැඩි වීමත් අස්ථි ඝණත්වය වැඩිවීම සඳහාත් කිරිදත් 20 වර්ධනය සඳහාත් මෙම ක්ෂුද්‍ර පෝෂක අත්‍යවශ්‍ය වේ.

- **යකඩ**

  හිමොග්ලොබින් නිපදවීම සඳහා අවශ්‍ය වේ.

**ලකුණු 04 යි**

(iii) ඉහත සඳහන් කරන ලද පෝෂක **දෙකක්** නිසි පරිදි නොලැබීමෙන් අවුරුදු 1-5 දරුවන් පිළිබිඹු කරන ඌනතා රෝග ලක්ෂණ වෙන් වෙන් ව දක්වන්න. (ලකුණු 04 යි)

- **ශක්තිය**
  - සිරුරේ සියළුම ඉන්ද්‍රිය වල ක්‍රියාකාරීත්වය අඩාල වීම
  - සිරුර කෘෂ වීම

- වයසට සරිලන උස නොමැතිවීම
- බර අඩුවීම
- ක්‍රියාශීලී බව අඩුවීම

- **කැල්සියම්**
    - අස්ථි සිහින් වීම
    - අස්ථි දුර්වල වීම
    - අස්ථි විකෘති වීම
    - අස්ථි පහසුවෙන් බිඳීයාම
    - දන්තබාධ ඇතිවීම
- **යකඩ**
    - සුදුමැලි වීම
    - උදාසීන බව
    - තෙහෙට්ටුව
    - විඩාවට පත්වීම
    - ඉගෙනීමට උනන්දුව අඩු බව
- **ප්‍රෝටීන්**
    - වර්ධනය බාලවීම
    - සම, හිසකෙස් වල වර්ණය වෙනස්වීම
    - හෝමෝන, එන්සයිම අඩුවීම නිසා අක්‍රමතා ඇතිවීම
    - ප්‍රතිශක්තිය අඩුවීම

**කරුණු 01 ට ලකුණු 02 බැගින් ලකුණු 04 යි**

(iv) වයස අවුරුදු හතරක දරුවකුගේ දිවා ආහාර වේල සඳහා බොජුන් පතක් සැලසුම් කරන්න. (ලකුණු 05 යි)
(මුළු ලකුණු 16 යි)

- පෝෂණ අවශ්‍යතා
- ප්‍රියජනක බව
- රුචිය වඩවන බව
- ප්‍රමාණවත් බව
- පරිභෝජනයට පහසුව

**යන කරුණු සැලකිල්ලට ගනිමින් සැලසුම් කරන ලද බොජුන් පතට**

**ලකුණු 05 යි**

**එකතුව ලකුණු 16 යි**

**4.** (i) සුබ්‍රීකරණය (බ්ලාන්චිකරණය) පරිරක්ෂණ ක්‍රමවල දී පූර්ව ප්‍රතිකාරයක් ලෙස යොදා ගනියි. සුබ්‍රීකරණයෙහි වැදගත්කම සනාථ කිරීමට කරුණු **හතරක්** ඉදිරිපත් කරන්න. (ලකුණු 04 යි)

- එන්සයිම අක්‍රියවීම.
- ආහාරය මතුපිට පෘෂ්ඨයේ ඇති ක්ෂුද්‍රජීවීන් පාලනය වීම.
- ආහායේ වර්ණය නොවෙනස්ව පවත්වා ගැනීම.
- අමිහිරි රසයට හා සුවඳට හේතු වන ආහාරයේ අඩංගු රසායනික සංයෝග ඉවත්වීම.
- ආහාරයේ පරිමාව අඩුවීම නිසා ඇසිරීම පහසුවීම.
- පොත්ත ඉවත්කර ගැනීමට පහසුය. උදා : තක්කාලි
- පල්පය ලබාගැනීමට පහසුය. උදා : චට්නි, සෝස්
- වේලීමට පහසුය. උදා : කරවිල, බණ්ඩක්කා, කොස්, දෙල්

(ii) රසායනික පරිරක්ෂණකාරක භාවිත කිරීමේ දී නියමිත මාත්‍රාව පමණක් ආහාරයට එකතු කිරීම ඉතා වැදගත් ය. මෙම කාරක අධික ලෙස ශරීරගත වීම නිසා ඇතිවිය හැකි හානිකර තත්ත්ව මොනවා ද? (ලකුණු 03 යි)

- සල්ෆයිට්, නයිට්‍රේට්, නයිට්‍රයිට උපරිම විෂ සහිතය.
- අධිකව එකතු කරන සල්ෆයිට් මගින් පෙනහළු හා ස්වසන පද්ධතියේ ආසාදන ඇති වේ.
- නයිට්‍රේට්, නයිට්‍රයිට වල අතුරු ඵළ ලෙස නිපදවෙන නයිට්‍රෝසොඇමින් පිළිකා ඇතිවීම කෙරෙහි බලපායි.

(iii) ආහාර පරිරක්ෂණයේ දී යොදා ගන්නා යාන්ත්‍රික වියළීමෙහි විවිධ ක්‍රම විස්තර කරන්න. (ලකුණු 03 යි)

- කැබිනට්ටු වියලනය
- උමං වියලනය
- බින් වියලනය
- රික්ත වියලනය
- බෙර වියලනය
- විසිර වියලනය

- **කැබිනට්ටු වියලනය හා උමං වියලනය**

අඩු තෙතමනයක් සහිත ආහාර ද්‍රව්‍ය සඳහා ඉතා උචිත අතර එහිදි ආහාරය තුලින් වායුධාරා ගමන් කරයි.

- **බින් වියලනය**

  ආහාරය තුලින් විශාල වායුධාරා ප්‍රමාණයක් අධික බලයකින් ගමන් කරවීම තුලින් එම බඳුන තුල ඇති ආහාර ඉක්මණින් වියලිමට භාජනය වේ.

- **රික්ත වියලනය**
  - අඩු උෂ්ණත්වය හා අඩු පීඩන තත්ත්ව යටතේ සිදු කරයි.
  - ආහාරයේ රසායනික සංයුතිය හා භාහිර ස්වභාවයට තද හානි සිදු නොකරමින් ජලය පිට කිරීම.

- **බෙර වියලනය**
  - මෙහිදි ද්‍රව ආහාර පමණක් භාවිත කරයි.
  - භ්‍රමණය වන බෙරයක් වැනි සිලින්ඩරාකාර උපකරණයක් තුළින් හුමාලය ගමන් කිරීමට සැලැස්වීම.
  - මෙම උපකරණයේ මතුපිට එකිනෙකට සමීප පතුරු ලෙස සකස් කර ඇති අතර ද්‍රවමය ආහාරය මෙම පතුරු මතට වැටීමට සැලැස්වීම.
  - උපකරණය භ්‍රමණය වන විට උපකරණය තුළින් හුමාලය ගමන්කර ආහාරයේ ජලය ඉවත් වී වියළි ඝන තත්ත්වයට පත්වීම.

- **විසිර වියලනය**
  - ද්‍රවමය ආහාර වියළිමේ දී පමණක් භාවිත වේ.
    (නැවුම් කිරිවලින් කිරිපිටි නිපදවීම)
  - ඉතා උණුසුම් වායුධාරා උපකරණය තුලින් ගමන් කිරීම.
  - උපකරණයේ ඉහළ කොටසේ ඇති Atomizer නම් ඉතා සියුම් බිඳිති සාදන කොටස වෙත ද්‍රව ආහාරය යොමු කිරීම.
  - මෙම කොටස මිනිත්තුවකට වට 18000 - 30000 අතර වේගයෙන් භ්‍රමණය වෙමින් එම ද්‍රව්‍ය ඉතා සියුම් බිඳිති තත්ත්වයට පත්කර සිලින්ඩරාකාර කොටසට ඒවා මුදා හැරීම.
  - එම සියුම් බිඳිති මුදා හැරෙන පරිසරය අධික උණුසුම් වාතයෙන් පිරි ඇත.
  - මේ නිසා මේ සියුම් ද්‍රව බිංදු වල අන්තර්ගත ජලය ඉතා ඉක්මනින් ඉවත් වී, ඝන අංශු බවට පත් වී යන්ත්‍රයේ පහළ කොටසේ තැන්පත් වීම.

(iv) (*a*) ආහාර ඇසුරුමක තිබිය යුතු ගුණාංග සඳහන් කරන්න. (ලකුණු 03 යි)

- විෂ රහිත වීම

- නියමිත ආහාරය සඳහා සුදුසු වීම
- ආහාරය සමග ප්‍රතික්‍රියා නොකිරීම
- සෞඛ්‍යාරක්ෂිත බව
- තෙතමනයට හා මේදයට ප්‍රතිරෝධී වීම
- සුවඳ / වායු වර්ග ඇතුළුවීම පිටවීම සීමා කිරීම
- සට්ටන වැනි භෞතික උපද්‍රව වලින් නිෂ්පාදනය ආරක්‍ෂා කිරීම
- බහාලුමේ ඇති ද්‍රව්‍ය ඉවතට ගැනීමේ පහසුව
- අදාල උෂ්ණත්වයට ඔරොත්තු දීම
- අවශ්‍ය තොරතුරු මුද්‍රණය කිරීමේ හැකියාව
- ආකර්ශනීය බව හා මනා නිමාවකින් යුතුවීම
- අඩු පිරිවැය දැරීමට සිදුවීම

(*b*) පරිරක්ෂිත ආහාර ඇසුරුම් කිරීමේ ව්‍යාපාරයක් ඇරඹීමට ප්‍රථම 'ශදූඅත' (SWOT) විශ්ලේෂණය සිදු කිරීමේ අවශ්‍යතාව පැහැදිලි කරන්න. (ලකුණු 03 යි)

- වෙළඳ පලෙහි ඇති ඉල්ලුම
- තම නිෂ්පාදනයට වෙළඳපලේ තරඟකාරි බව
- ආකර්ශනීය ලෙස ඇසුරුම් කිරීම
- පරිරක්ෂිත නව නිපැයුම් සඳහා උනන්දු වීම
- තම නිෂ්පාදනය වෙළෙඳපලට ඉදිරිපත් කිරීමේ දී පසුබෑමට ලක් නොවීම

**5.** (i) වාණිජ මැහුම් ක්‍රමවල පෙනුම සහ කල්පැවැත්මට බලපාන සාධක **තුනක්** නම් කර ඒවා හඳුන්වන්න. (ලකුණු 03 යි)

- **මැස්මේ ප්‍රමාණය**
  - මැස්මේ දිග
  - පළල
  - ගැඹුර
- **මැස්මේ ආතතිය**
  - නූල්වල ආතතිය අඩු වීම හෝ වැඩි වීම මැස්මේ නියම ස්වභාවය වෙනස් වීමට හේතු වේ
- **මැස්මේ ඒකාකාරී බව**
  - මැස්ම එකම ආකාරයෙන් පවත්වා ගැනීම

**(කරුණු 3 ට ලකුණු 03)**

(ii) ශ්‍රී ලංකාවේ ඇඟලුම් කර්මාන්තයෙහි වැදගත්කම කරුණු **හතරක්** ඇසුරෙන් පහදන්න. (ලකුණු 04 යි)

- රැකියා අවස්ථා ජනිත වීම

- උසස් අධ්‍යාපන අවස්ථා විවර වීම
- දළ දේශීය නිෂ්පාදනයට දායක වීම
- ඇඟළුම් කර්මාන්තයේ තරඟකාරී බව නිසා විවිධ පර්යේෂණ වලට සහ නව නිපැයුම්වලට යොමු වීම
- ඊට අදාළ නව තාක්ෂණය හඳුන්වා දීම මගින් වෙනත් කර්මාන්ත සඳහා ද යොදා ගත හැකි තාක්ෂණික ක්‍රම හා යන්ත්‍ර සූත්‍රවල දියුණුවක් ඇති වීම
- විදේශ විනිමය රටට ගලා ඒම

**කරුණු 4 ක් පැහැදිලි කිරීමට ලකුණු 04**

(iii) මේස දරණුවක් මසා නිම කිරීම සඳහා බඳන වාටියක් (binding) යොදා ගන්නා අයුරු පැහැදිලි කරන්න. (ලකුණු 04 යි)

- මෙහිදී මේස දරණුවට ගැලපෙන වර්ණයකින් විකර්ණාකාර පටි කපා ගත යුතු වේ
- මේස දරණුවෙහි හොඳ පිට අද්දරින් විකර්ණාකාර පටියෙහි හොඳ පිට තබා ඇල්පෙනෙති ගසා තාවකාලික මැස්මකින් සම්බන්ධ කර ගන්න.
- මෙම රේඛාව ඔස්සේ ස්ථිර මැස්මක් යොදන්න.
- වැඩිපුර මැස්මට හසු වී ඇති නම් එම කොටසින් අඩක් කපා ඉවත් කරන්න (trim)
- කැපුම් සලකුණු (notch) නොයෙදිය යුතුය.
- විකර්ණාකාර පටියේ අඩක් පෙනෙන සේ නවා පළමු මැස්ම මත ම තබා තාවකාලික මැස්මක් යොදන්න.
- පසුව ස්ථිර මැස්මක් ලෙස වාටි මැස්ම මසන්න.

**ලකුණු 04**

(iv) ඇඟලුම් කර්මාන්තයෙහි නිෂ්පාදන සඳහා 'පිරිසැලසුම' (product development) නිර්මාණය කරයි. පිරිසැලසුමෙහි ඇතුළත් පියවර විස්තර කරන්න. (ලකුණු 05 යි)

- විවිධ සමීක්ෂණ / නිරීක්ෂණ මගින් වෙළඳපොල ඉල්ලුම වැඩි ඇඳුම් තෝරා, ඒ අතරින් වැඩි ආදායමක් ලබා ගත හැකි ඇඳුම් තීරණය කිරීම. (නිර්මාණය සඳහා යන වියදම, මෝස්තරය, රෙදි වර්ගය, මැහුම් ක්‍රම, ඇඳීමේ හා ඇඳ සිටීමේ පහසුව, නිමාවන්, නඩත්තු කිරීමේ පහසුව යන කරුණු සලකා බලා තීරණය කළ යුතු වේ).

- මෝස්තර නිර්මාණ ශිල්පියා විසින් නිර්මාණය කළ මෝස්තරයෙහි ජ්‍යාමිතික සටහන, නිමි ඇඳුම් කර්මාන්ත ශාලාවට ලබා දීම.

- එම නිර්මාණයට අනුව ආදර්ශ ඇඳුමක් මසා නිම කිරීම. (මෝස්තරයට අදාළ සියලුම කොටස් මීට ඇතුළත් විය යුතු වේ).

- ඇඳුම මැසීමෙන් පසු ඇඳුමේ මෝස්තර නිර්මාණකරු, ඇඳුම මැසූ පුද්ගලයා, ඇඳුම මිළට ගන්නා පාරිභෝගිකයා හා නිෂ්පාදන කළමණාකරු ආදීන්ගෙන් සමන්විත කමිටුවකට මැසූ ඇඳුම ඉදිරිපත් කර, එහි තව දුරටත් වෙනස් විය යුතු කරුණු පිළිබඳව තීරණය කිරීම.

- නව යෝජනා ඇතුළත් නව නියැදියක් සකස් කර නැවත පරීක්ෂා කිරීම.
- කමිටුව අවසන් තීරණයකට එළඹීම. කමිටුවෙහි අනුමැතිය සහිතව නැවත අවශ්‍ය පතරොම නිර්මාණය කිරීම.

**ලකුණු 05**

**(මුළු ලකුණු 20)**

**6.** (i) 'තිරසාර සම්පත් පරිභෝජනය' යනු කුමක් ද? (ලකුණු 02 යි)

සම්පත් දිගු කාලීනව පිරිහීමට පත් නොවන සේ මිනිසාගේ වර්තමාන හා අනාගත අවශ්‍යතා ඉටුවන පරිදි ප්‍රයෝජනයට ගැනීම.

(ii) තිරසාර සම්පත් පරිභෝජනයෙහි වැදගත්කම පැහැදිලි කරන්න. (ලකුණු 04 යි)

- **ජෛව විවිධත්වය ආරක්ෂා වීම**
  - වනාන්තර විනාශය අවම වීම
  - එම දේශයට ආවේණික වූ සත්ත්ව හා ශාක වඳවීම වැළකීම සහ ප්‍රචාරණයට ඉඩ සැලසීම
  - දේශීය ආහාර පරිභෝජනය හා ගෙවතු වගාව වැනි සම්පත් නාස්ති නොවන ක්‍රියාකාරකම් නිසා ජෛව විවිධත්වය ආරක්ෂා වේ.

- **පරිසර සමතුලිතතාව ආරක්ෂාවීම**
  - පරිසර පද්ධතියේ ඇති සම්පත් ආරක්ෂා කිරීම තුලින් පරිසර සමතුලිතතාව ආරක්ෂා වේ.
- **සම්පත් හිඟතාවයක් ඇති නොවීම**
- **පරිසර දූෂණය අවම වීම නිසා ජනතාවගේ සෞඛ්‍යාරක්ෂිත බව තහවුරු වීම**
  - ජල දූෂණය, වායු දූෂණය අවම වීම හේතුවෙන් ඒ ආශ්‍රිත රෝගවලින් වැළකීම
- **ස්වභාවික චක්‍රවල සමතුලිතතාව ආරක්ෂා වීම**
  - කාබන් චක්‍රය, නයිට්‍රජන් චක්‍රය වැනි
- **වර්තමාන හා අනාගත පෝෂණ අවශ්‍යතා සැපිරීම**

**ඉහත කරුණු අතුරින් ඕනෑම කරුණු 04 ක් පැහැදිලි කර ඇත්නම් එක් කරුණකට ලකුණු 01 බැගින් ලකුණු 04 යි**

(iii) සංචරණයේ ප්‍රභේද **හතරක්** නම් කර ඉන් **දෙකක්** විස්තර කරන්න. (ලකුණු 04 යි)

- වෙරළ සංචරණය
- සංස්කෘතික සංචරණය
- ස්වභාවධර්ම සංචරණය
- කෘෂි සංචරණය

- ප්‍රයාන (වික්‍රමාන්විත) සංචරණය
- ආගමික සංචරණය
- සෞඛ්‍ය සංචරණය
- අධ්‍යාපනික සංචරණය
- පාරිසරික සංචරණය
- අජටාකාශ සංචරණය

- **වෙරළ සංචරණය**

  වෙරළෙහි ගත කිරීම, විඩා හැරීම, ස්නානය සහ සුව පහසුව විඳීම, සඳහා තම විවේක කාලය යොදවයි. ඉතා දිගු කාලක සිට පැවත එන සංචරණ ප්‍රභේදයකි.

- **සංස්කෘතික සංචරණය**

  මෙහිදි සංස්කෘතික වැදගත්කමක් හා ආකාර්ශණයක් ඇති ස්ථාන කෙරෙහි යොමු වෙයි. නව අත්දැකීම් ලබාගැනීම හා තොරතුරු රැස් කිරීමට උනන්දු වෙයි.

- **ස්වභාවධර්ම සංචරණය**

  වන ජීවින් තුරුලතා සහිත ස්වභාවික ස්ථාන සහ අලංකාර භූ දර්ශන නැරඹීමට යොමු වේ.

- **කෘෂි සංචරණය**
  - කෘෂිකර්මාන්තය පදනම්කරගත් ක්‍රියාකාරකම් වල යෙදීම සඳහා ගොවිපලවල් කරා යොමු වේ.
  - ගොවිපල තුල නේවාසිකව සිටීම
  - නිෂ්පාදන ගොවිපලෙන් මිලට ගැනීම
  - පලතුරු නෙලීම, සතුන්ට කෑම දීම ආදී ක්‍රියාකාරකම් වල නියැලීම සිදු වේ
  - කෘෂි නිෂ්පාදන සැකසීම පිළිබඳ අත්දැකීම් ද ලැබිය හැක.
  - සංචාරකයන් සඳහා නවාතැන් ද ඇතැම් ගොවිපල වල ලබාදෙනු දැකිය හැකිය.

- **ප්‍රයාන (වික්‍රමාන්විත) සංචරණය**
  - විශ්මය දනවන වික්‍රමාන්විත ක්‍රියාකාරකම් වල නිරතවීමට යොමු වෙයි.
  - කඳු නැගීම, කිමිදීම, පර්වත තරණය, ගුවනේ ඉපිලීම වැනි ක්‍රියාකාරකම් වල නිරත වේ.

- **ආගමික සංචරණය**

  ශුද්ධ වූ වන්දනීය ස්ථාන කරා යොමු වෙයි.

- **සෞඛ්‍ය සංචරණය**
  - වෛද්‍ය පහසුකම් ලබාගැනීම සඳහා සංචරණය කිරීමයි

- තම රටෙහි වෛද්‍ය පහසුකම් මිල අධික නිසා හෝ වඩා ගුණාත්මක වෛද්‍ය පහසුකම් ලබා ගැනීම සඳහා ද මෙය සිදු කරයි.

- **අධ්‍යාපනික සංචරණය**
  - සැලසුම් කරන ලද වැඩසටහන් මගින් දැනුම ලබා ගැනීම සඳහා යොමු වෙයි.
  - පන්ති කාමරයෙන් පිටත දී ඉගෙනුම් - ඉගැන්වීම් ක්‍රියාවලියේ නිරත වීම හා ඉගෙනුම් අත්දැකීම් ලබාගැනීම සිදු කෙරේ.

- **පාරිසරික සංචරණය (රූදෙස් සංචරණය)**
  - සංචාරකයන් පරිසරයට හානි නොවන ක්‍රියාකාරකම් වල නිරත වේ
  - සිහිවටන ලෙස සතුන් හා ශාක කොටස් වලින් සකස් කරන ලද ද්‍රව්‍ය මිලදී නොගනියි
  - පාරිසරික සංචරණ ව්‍යාපෘති වල සහ ප්‍රජා සුභ සිද්ධියට සෘජුව දායකත්වය සඳහා වැඩි කැමැත්තක් දක්වයි.

- **අජටාකාශ සංචරණය**

  ප්‍රතිමෝදනය සඳහා අජටාකාශයට යාමට අවස්ථා සැලසී ඇත. නමුත් අධික වියදම් නිසා සීමා වී ඇත.

**ඉහත ප්‍රභේද අතුරෙන් ඕනෑම 04 ක් සඳහා ප්‍රභේදයකට ලකුණු $\frac{1}{2}$ බැගින් ලකුණු 02 යි,**

**සඳහන් කළ ප්‍රභේද 02 ක් විස්තර කිරීමට ලකුණු 02 යි,**

**මුළු ලකුණු 04 යි**

(iv) සංචරණයෙහි නිරත වන පුද්ගලයකුට අත්වන ප්‍රතිලාභ පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

- පූර්ණ සහ අර්ථවත් ජීවිතයකට දායක වීමට හැකිවීම.
- මානසික හා ශාරීරික සෞඛ්‍ය ආරක්ෂා කර ගැනීමට හැකිවීම.
- කාර්යබහුලත්වය නිසා හටගැනෙන ආතතිය පාලනය කර ගැනීමට.
- ස්වඅභිමානය සහ ධනාත්මක ස්වයං ප්‍රතිරූප වර්ධනය කර ගැනීමට හැකිවීම.
- සමතුලිත ජීවිතයකට හා ජීවිතයේ ගුණාත්මක බව ලබාගැනීම සඳහා හොඳ අවස්ථාවක් වීම.
- නව අත්දැකීම්, මතකයන් සහ අධ්‍යාපනික දියුණුව ලැබීම.
- සන්නිවේදන නිපුණතා දියුණුවීම.
- අන්තර් පුද්ගල සබඳතා වැඩිදියුණු වීම.
- අන්තර් සංස්කෘතික සම්බන්ධතා පුළුල් විම.
- පවුල් බැඳීම් ශක්තිමත් කර ගැනීමට හැකිවීම.

**ඉහත සඳහන් කරුණු අතුරින් ඕනෑම කරුණු 06 ක් සඳහා ලකුණු 01 බැගින් ලකුණු 06 යි**

**මුළු ලකුණු 16 යි**

**7.** (i) නව යොවුන් වියෙහි චිත්තවේග වර්ධනයේ ස්වභාවය පිළිබඳ ඔබේ අදහස් දක්වන්න. (ලකුණු 03 යි)

- අධික චිත්තවේගී බව, චිත්ත වේග පාලනය කිරීමට අසීරු වීම, චිත්තවේග කැලඹිලි ඇතිවීම නිසා මානසික අසහනකාරී තත්ත්වයට පත්වේ.
- කායික හා ලිංගික වෙනස්වීම් තේරුම් ගැනීමට අපොහොසත්වීම නිසා චිත්තවේග වල අසමතුලිතතා ඇති වේ.
- චිත්තවේග ප්‍රකාශනයේ පසුබෑමක් පෙන්නුම් කරයි. නව යෞවනයා විටෙක ළමාවියේ චරිත ලක්ෂණ ද විටෙක වැඩිහිටිවියේ ලක්ෂණ ද පෙන්නුම් කරයි. මේවා වැඩිහිටියන් පිළිනොගැනීම මත චිත්තවේග අසමතුලිතතා ඇති වේ.
- නව යෞවනයා දැඩි පාලනය යටතේ නිදහස සීමා කිරීම නිසා විවිධ ගැටළු ඇති වේ.

(ii) නව යෞවනයා මුහුණදෙන පවුල හා සමාජය ආශ්‍රිත ගැටළු ඉදිරිපත් කරන්න. (ලකුණු 03 යි)

- ආදරය කරුණාව නොලැබීම.
- බිඳුනු හෝ ආරවුල් සහිත පවුල් පරිසරය.
- මව හෝ පියා වෙන් වී සිටීම.
- දෙමාපියන් මත්ද්‍රව්‍ය වලට ඇබ්බැහි වී සිටීම වැනි පවුල් පරිසර.
- මව හෝ පියා නැවත විවාහ වීම.
- අයහපත් ආර්ථික තත්ත්වය.
- දෙමාපියන්ගේ දැඩි ඒකාධිපති ස්වභාවය.
- නිවසේ සමාජිකයෙක් දැඩි ලෙස රෝගාතුර වීම.
- දෙමාපියන්ගේ දැඩි අපේක්ෂා හා ඉලක්ක තිබීම.
- පරිසරයේ ස්වභාවය - මත්ද්‍රව්‍ය මත්පැන් වැනි
- ජීවත් වන සමාජ රටාව
- රැකියා විරහිත බව.

(iii) 'සමහර යොවුන් දරුවන් තුළ ඇතිවන මානසික පීඩනය (stress) කායිකව මෙන්ම චිත්තවේගීව පිළිබිඹු කරයි.' උදාහරණ දෙමින් පැහැදිලි කරන්න. (ලකුණු 05 යි)

<u>කායික</u>

- යොවුන් දරුවන් තුළ - විභාග වලට පෙනිසිටීම විභාග අසමත් වීම නිසා අධ්‍යාපනික ගැටළු, හිසරදය, ක්ලාන්තය, කරකැවිල්ල ඇතිවිය හැකිය.
- ප්‍රේම සම්බන්ධතා බිඳ වැටීම නිසා නින්ද නොයෑම, පපුව රිදීම.

- තද බල රෝගී තත්ත්වයන් නිසා - උදර රෝග, සන්ධි වේදනා, කෑම අරුචිය, නින්ද නොයෑම ඇතිවීම.
- ප්‍රේම සම්බන්ධතා නිසා - සුසුම් හෙලීම, අලස බව, අධි හෘද ස්පන්දනය ඇතිවීම.
- ඇසුරු කරන්නන් සමඟ ඇතිවන ප්‍රශ්න නිසා - හිරිගතිය, වෙව්ලීම, නින්ද නොයෑම.
- ආර්ථික දරිද්‍රතාව / දුප්පත්කම නිසා - පපුව රිදීම, අලස බව, නින්ද නොයෑම.

<u>චිත්තවේග</u>

- **විභාග වලට පෙනී සිටීම, විභාග අසමත්වීම**
  - සිත එකඟකර ගැනීමේ නොහැකියාව
  - කැලඹිලි සහිත බව
  - කලකිරුණු බව
  - ශෝක හරිත බව
- **ඇසුරු කරන්නන් සමඟ ඇතිවන ප්‍රශ්න**
  - කෝපය
  - ද්වේශය
  - වැරදිකාර හැඟීම
  - කලකිරුණු බව
  - නොරිස්සුනු ස්වභාවය
- **පවුල් ගැටළු නිසා**
  - අධික ලෙස බියවීම
  - හුදකලා වී සිටීම
  - කිසිදු ප්‍රතිචාරයක් නොදැක්වීම
  - ශෝක හරිත බව
- **තද බල ලෙස රෝගී වීම නිසා**
  - නොරුස්සන ස්වභාවය
  - කිසිදු ප්‍රතිචාරයක් නොදැක්වීම
  - කනස්සල්ල
  - අධික ලෙස බියවීම

(iv) යොවුන් දරුවන්ගේ පෞරුෂ වර්ධනය සඳහා පාසලෙහි දායකත්වය සාකච්ඡා කරන්න. (ලකුණු 05 යි)

- පාසලේ විෂයය සමගාමී කටයුතු වලට යොමු කිරීම.
- විෂය නායක, පන්ති නායක, ශිෂ්‍ය නායක යොමු කිරීම.
- බාල දක්ෂ / සමිති සමාගම් වලට පෙලඹවීම.
- වාද විවාද තරඟ වලට යොමු කිරීම.
- ක්‍රීඩා තරඟ හා ශාරීරික අභ්‍යාස කිරීම.

- නායකත්ව වැඩමුළු පැවැත්වීම.
- වගකීම් දැරීමට අවස්ථාව දීම.
- කණ්ඩායම් ක්‍රියාකාරකම් වලට සහභාගි කිරීම.
- ශ්‍රමදාන කටයුතු වල යෙදීම.
- ආගමික වැඩසටහන් ක්‍රියාත්මක කිරීම.
- සෞන්දර්ය හා කලා කටයුතු සංවිධානය කිරීම.
- අත් වැඩ හා අත්කම් වලට යොමු කිරීම.
- ත්‍යාග ප්‍රදානෝත්සව පැවැත්වීම.
- දරුවාගේ සුවිශේෂි දක්ෂතා ඇගයීම.

**8.** පහත දැක්වෙන මාතෘකා අතුරෙන් **හතරක්** පිලිබඳව සටහන් ලියන්න.

(i) බාහිර අවකාශ නිර්මාණයේ දී උපාංග භාවිතය

- කිසියම් ගෙවනැගිල්ලක වටපිටාව බාහිර අවකාශය නම් වේ.
- මෙම බාහිර අවකාශ නිර්මාණයේ දී විවිධ කරුණු පිළිබඳව සලකා බැලිය යුතු ය.
  **උදා :** පරිසරය, හැඩතල, ධාරිතාව, ශාක වර්ග, උපාංග
- උපාංග ලෙස පොකුණු, දිය ඇලි, වතුර මල්, එලිමහන් මේස, පුටු, බංකු, ප්‍රතිමා, උද්‍යාන ලාම්පු, බිම් ඇතුරුම් ආදීය නම්කළ හැකිය.
- උපාංග තෝරා ගැනීමේ දී භූමියේ ස්වභාවය, ඉඩකඩ හා ආලෝකය පිළිබඳ සැලකිලිමත් විය යුතු ය. ඒ සඳහා ගැලපෙන උපාංග තෝරා ගත යුතු ය.
- මෙයට අමතරව ඔංචිල්ලාව, ලිස්සා යාම සඳහා සකස් කර ඇති උපකරණ අවශ්‍යතාව අනුව යොදා ගැනීම.
- ඉඩකඩ අනුව උපාංග තෝරා ගැනීමෙන් බාහිර අවකාශයේ අලංකාරය වැඩි කරගත හැකි ය.

**ලකුණු 04 යි**

(ii) දෛනික ආහාරවේල්වලට තන්තු ඇතුළත් කිරීමේ වැදගත්කම

- ආහාර ජීර්ණ පද්ධතියේ ක්‍රියාකාරීත්වය සඳහා
- ජීර්ණය වූ ආහාර අවශෝෂණය පාලනය කිරීම සඳහා
- අධිග්‍රහණය කරන ආහාර ප්‍රමාණය අඩු කිරීම/ ආහාර රුචිය අඩු කිරීම සඳහා
- ග්ලූකෝස් හා කොලෙස්ටරෝල් අවශෝෂණය බාධා කිරීම සඳහා
- ජලය රඳවා තබා ගැනීම වැඩි කිරීම සඳහා
- විටමින් K නිපදවීමට හේතු වන ආන්ත්‍රික බැක්ටීරියා වර්ධනය සඳහා
- ධූලක, පිත් ලවණ වැනි අහිතකර දෑ ඉවත් කිරීම සඳහා
- අන්ත්‍රවල ක්‍රමාකුංචනය වේගවත් කිරීම සඳහා
- මලබද්ධය වැළැක්වීම සඳහා

**ලකුණු 04 යි**

(iii) නිම් ඇඳුම් සඳහා යොදනු ලබන නිමාවන්

- විරංජනය
- වැලිකඩදාසි භාවිතය

- ප්‍රමැංගනේට් ඉසීම මගින් විරංජනය
- වැලි ඉසීම
- එන්සයිම මගින් සේදීම

- **විරංජනය**
  තද වර්ණ සහිත රෙදිවලින් මසන ලද නිමි ඇඳුම් හයිඩ්‍රජන් පෙරොක්සයිඩ් යොදා ඇඳුමෙහි වර්ණයෙහි තද බව අඩු කරයි. හයිඩ්‍රජන් පෙරොක්සයිඩ් ($H_2O_2$) ඔක්සිකාරක විරංජකයක් බැවින් නිමි ඇඳුම්වල සුදු බව වැඩි කිරීමට යොදනු ලැබේ.

- **වැලිකඩදාසි භාවිතය**
  නිමි ඇඳුම්වල තෝරාගත් කොටස්වල මතුපිට පාට ඉවත් කිරිම සඳහා වැලි කඩදාසි ඇතිල්ලීම කරයි. මේ නිසා ඇතැම් අවස්ථාවල ඇඳුම් ඉරීමට ද ලක් වේ. මෙය ද මෝස්තරයක් ලෙස සැලකේ.

- **ප්‍රමැංගනේට් ඉසීම මගින් විරංජනය**
  මෙමගින් ඇඳුමේ විවිධ ස්ථානවල වර්ණවල තීව්‍රතාවය අඩු වැඩි කරයි

- **වැලි ඉසීම**
  නිමි ඇඳුමට යන්ත්‍රයක් මගින් වැලි ධාරාවක් ඉසිනු ලැබීම. ඇඳුමේ ඉහළ කොටසට වැඩි වැලි ප්‍රමාණයක් ද, පහළ කොටසට අඩු වැලි ප්‍රමාණයක් ද ඉසීමෙන් මෝස්තරය ගොඩ නගයි.

- **එන්සයිම මගින් සේදීම**
  එන්සයිම වර්ග උපයෝගී කර ඇඳුම එහි බහා තබා පසුව සෝදනු ලබයි. මෙමගින් රෙද්ද මෘදුවන නමුත් ශක්තිමත් බව අඩු වේ. කලිසම් රෙදි සඳහා එම ක්‍රියාවලිය යෙදීමෙන් වර්ණවල යම් අඩු වීමක් දැකිය හැකි ය.

**ලකුණු 04**

(iv) සංචරණය නිසා ශ්‍රී ලංකාවේ ආර්ථිකයට ඇති වූ ධනාත්මක හා ඍණාත්මක බලපෑම්

- **ධනාත්මක බලපෑම්**
  - අභ්‍යන්තර යොමුගත සංචරණය මගින් විදේශ විනිමය ඉපයීම
  - ඍජු හා වක්‍ර බදු මගින් රජයේ ආදායමට වන දායකත්වය
  - රැකියා නියුක්තිය
  - යටිතල පහසුකම් සඳහා ආයෝජනය පිණිස උත්තේජනය
  - ප්‍රාදේශිය ආර්ථික සංවර්ධනයට දායකත්වය
  - ප්‍රාදේශීය සංවර්ධනය

- **ඍණාත්මක බලපෑම්**
  - උද්ධමනය

- සංචාරකයින්ගේ ඉල්ලුම නිසා භාණ්ඩ හා සේවාවල මිළ ඉහළ යාම
- ආවස්ථික පිරිවැය
- යැපීම් මානසිකත්වය වර්ධනය
- සංචාරකයින්ගේ පැමිණීම කාලයකට සීමා වීම
- රැකියා නියුක්තිය වෙනස්වීම
- ආර්ථිකයේ කාන්දු වීම
- සීමිත ප්‍රදේශයකට සීමා වූ සංචරණය

**ලකුණු 04 යි**

(v) පුද්ගලයකුගේ පෞරුෂ සංවර්ධනය කෙරෙහි බලපාන ජානමය ලක්ෂණ

- **පුද්ගලයෙකුගේ උපතින්ම ගෙන එන ලබනු ලක්ෂණ ජානමය ලක්ෂණ වේ**
  - කායික පෙනුම (උස, බර)
  - සම, ඇස් හා කෙස්වල වර්ණය
  - විශේෂ දක්ෂතා
  - බුද්ධිමය ලක්ෂණ
  - ජානමය රෝග (තැලිසීමියා, හිමොෆීලියාව)

**ලකුණු 04**

**ලකුණු 04 × 4**

**(මුළු ලකුණු 16)**

******

